# 2556 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2011 (2012)

**S 2**

## (02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය

(එක් කොටසකින් ප්‍රශ්න දෙක බැගින් තෝරාගෙන ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) බුද්ධ කාලයේ විසූ ප්‍රසිද්ධ ශ්‍රමණ ආචාර්යවරුන් **සිව් දෙනකු** නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) ශ්‍රමණ හා බ්‍රාහ්මණ සංස්කෘති අතර පවත්නා වෙනස්කම් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) සිදුහත් තාපසතුමා ශ්‍රමණ සම්ප්‍රදායයන් අත්හද බැලූ අයුරු පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) බුද්ධ කාලයේ පැවැති පැවිදි උපසම්පද ක්‍රම **දෙකක්** නම් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) ඉන් **එක්** ක්‍රමයක් පිළිබඳ ව කෙටි සටහනක් ලියන්න. *(ලකුණු 06 යි)*
   (iii) උපසම්පදවට නුසුදුසු පුද්ගලයන් හතර දෙනකු නම් කොට, ඔවුන් එසේ නුසුදුසුවීමට හේතු පහදා දෙන්න. *(ලකුණු 08 යි)*

4. (i) පාතිමොක්ඛ (ප්‍රාතිමෝක්ෂ) යන වචනයෙහි අර්ථ **දෙකක්** ග්‍රන්ථාගතනයින් ලියන්න. *(ලකුණු 04 යි)*
   (ii) භික්ෂු ප්‍රාතිමෝක්ෂයට අයත් ශික්ෂා පද බෙදී ඇති ආකාරය ලියා දක්වන්න. *(ලකුණු 06 යි)*
   (iii) ඔබ විසින් තෝරාගත් ශික්ෂා පදයක ප්‍රධාන ලක්ෂණ පෙන්වාදී, ඒවා අගය කරන්න. *(ලකුණු 08 යි)*

5. (i) සිගාලෝවාද සූත්‍රයෙහි අන්තර්ගත ප්‍රධාන ඉගැන්වීම් කවරේ ද? *(ලකුණු 04 යි)*
   (ii) එයින් **එක්** ඉගැන්වීමක් පිළිබඳ ව විස්තර කරමින් කෙටි සටහනක් ලියන්න. *(ලකුණු 06 යි)*
   (iii) සිගාලෝවාද සූත්‍රය ගිහි විනය ලෙස හැඳින්වීමේ යුක්තියුක්තභාවය පහද දෙන්න. *(ලකුණු 08 යි)*

6. (i) ධම්මික සූත්‍රයෙහි දැක්වෙන ලෙස ධම්මික උපාසකතුමා ප්‍රකාශ කළ බුදුගුණ අතරින් **හතරක්** ලියන්න. *(ලකුණු 04 යි)*
   (ii) අනගාරික වතෙහි දැක්වෙන භික්ෂුවකගේ ස්වභාවය විස්තර කොට දක්වන්න. *(ලකුණු 06 යි)*
   (iii) ගිහි වත (අගාරික වත) මගින් සාර්ථක ගිහි ජීවිතයක් ගොඩනගා ගත හැකි ආකාරය විමසන්න. *(ලකුණු 08 යි)*

### III කොටස

7. (i) සිංහලට නගන්න.
   (අ) පිතා මං භන්තෙ කාලං කරොන්තො එවං අවච. ඡද්දිසා තාත, නමස්සෙය්‍යාසී'ති.
   (ආ) යෙන භගවා තෙනුපසංකමි. උපසංකමිත්වා භගවන්තං අභිවාදෙත්වා ඒකමන්තං නිසීදි.
   (ඉ) අසන්තස්ස පියා හොන්ති - සන්තෙ න කුරුතෙ පියං
   අසතං ධම්මං රොචෙති - තං පරාභවතො මුඛං
   (ඊ) ඉත්ථිධුත්තො සුරාධුත්තො - අක්ඛධුත්තො ච යො නරො
   ලද්ධං ලද්ධං විනාසෙති - තං පරාභවතො මුඛං *(ලකුණු 08 යි)*

   (ii) මෙම වාක්‍ය පාලියට නගන්න.
   (අ) එක් කලෙක බුදුරජාණන් වහන්සේ සැවැත්නුවර ජේතවනාරාමයෙහි වැඩ වසන සේක.
   (ආ) "භාග්‍යවතුන් වහන්ස, පිරිහීමට හේතුවන පළමු කරුණ දේශනා කරන සේක්වා"යයි ඔහු කීවේ ය.
   (ඉ) කෝලිත, උපතිස්ස යන යහළුවන් දෙදෙනා ආචාර්ය සංජය පිරිවැජියා වෙත ගොස් බුදුරජාණන් වහන්සේ දැකීමට යාමට ආරාධනා කරන ලදි.
   (ඊ) එකල බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලා සමග ගම් නියම් ගම් ජනපදවලට වඩිමින් මිනිසුන්ට ස්වර්ග මෝක්ෂ සැප ලබාගැනීමට දහම් දෙසූ සේක. *(ලකුණු 10 යි)*

8. (i) මෙම පාඨය සිංහලට නගන්න.

   සත්ථා පන තං භික්ඛුං පක්කොසාපෙත්වා "සච්චං කිර ත්වං භික්ඛු ගිහී පොසෙසී"ති පුච්ඡිත්වා "සච්චං භන්තෙ"ති වුත්තෙ "කිං තෙ හොන්ති"ති. "මාතාපිතරො මෙ භන්තෙ"ති වුත්තෙ "සාධු භික්ඛු, පොරාණක පණ්ඩිතා තිරච්ඡනා හුත්වා සුව යොනියං නිබ්බත්තිත්වා'පි ජිණ්ණකෙ මාතාපිතරො කුලාවකෙ නිපජ්ජාපෙත්වා මුඛතුණ්ඩකෙන ගොචරං ආහරිත්වා පොසෙසුං'ති වත්වා අතීතං ආහරි. *(ලකුණු 08 යි)*

   (ii) සාලිකෙදාර ජාතක කථාව තුළින් වර්තමාන සමාජයට ගතහැකි ආදර්ශය අගය කරන්න. *(ලකුණු 10 යි)*

9. (i) මෙම පාඨය සිංහලට නගන්න.

   අනාථපිණ්ඩිකෙනහි විහාරං කාරෙත්වා දූතෙ පෙසිතෙ සත්ථා රාජගහා නික්ඛමිත්වා වෙසාලිං පත්වා තත්ථ යථාභිරන්තං විහරිත්වා සාවත්ථිං ගමිස්සාමීති මග්ගං පටිපජ්ජි. තෙන ච සමයෙන ඡබ්බග්ගියානං අන්තෙවාසිකා පුරතො පුරතො ගන්ත්වා ථෙරානං සෙනාසනෙසු අගහිතෙස්වෙව ඉදං සෙනාසනං අම්හාකං උපජ්ඣායස්ස ඉදං ආචරියස්ස ඉදං අම්හාකමෙව භවිස්සතී'ති සෙනාසනානි පරිභුඤ්ජන්ති. *(ලකුණු 08 යි)*

   (ii) වුද්ධාපචායනය (වැඩිහිටියන්ට ගරුකිරීම) පිළිබඳව බෞද්ධ ඉගැන්වීම තිත්තිර ජාතකය ඇසුරින් ප්‍රකට කරන්න. *(ලකුණු 10 යි)*

***

සිංහලයට නගන්න                                                    ඉ කොටස

i) (අ) " න පරේසං විලෝමානි - න පරේසං කතාකතං"

(ආ) " එවං නින්දා පසංසාසු - න සමිඤ්ජන්ති පණ්ඩිතා"

(ii) පහත අදහස ඇති ධම්මපද ගාථා ලියන්න.

(අ) සොරකු සොරකුට නපුරක් කරනවාට වඩා, වෛර ඇති කෙනෙකු වෛරී පුද්ගලයෙකුට නපුරක් කරනවාට වඩා වරදට පෙළඹෙන සිත ඔහුට වඩා නපුරක් කරයි.

(ආ) යම් කර්මයක් කිරීමෙන් පසු තැවෙන්නේ ද, එම කර්ම විපාකය කඳුළු වගුරුවමින් හඬ හඬා විඳින්නට සිදුවේ ද ඒ කර්ම නොකිරීම මැනවි.

(iii) 'අ' කොටසේ යෙදුමට ගැළපෙන යෙදුම 'ආ' කොටසෙන් තෝරා ලියන්න.

'අ'

මංගල කරුණකි .....
නායෝ මිදෙමි නායෝ මිදෙමියි කිය ....
මහමෙර සේ කලමත් නුසැලෙයි ....
නොකල්හි පිඬු පිණිස නොහැසිරීම ....
කර්ම ක්ලේශයකි .....
සොරුන් සමග විසීම .......

'ආ'

සත්තිගුම්බ ගිරවා
ශ්‍රවණීම
ප්‍රාණඝාතය
කසිනූපාව
බෝසත් ගිරා රජු
අනාගාරික වතකි.

හිස්තැනට ගැළපෙන නිවැරදි පිළිතුර තෝරා යටින් ඉරක් අඳින්න.

(අ) ත්‍රමිතන භික්ෂු පිරිසේ වැඩි දෙනෙක් ..... (අත්තකිලමථානු / කාමසුඛල්ලිකානුයෝගී) ජීවිත කෙරෙහි කලකිරීමට පත්ව සිටි අයයි.

(ආ) ..... (නින්දා අපහාස ලැබීම / ලාභ සත්කාර වැනි වශයෝ ලැබීම) ආස්වාදනීය ධර්මයකි.

(ඇ) ..... (දෙමව්පියන් නැති දරුවන් / විරාධර්වල පුද්ගලයින්) හැමදා නොකලේද්‍යා තෙමා නිදා දාගේ දන්වේ.

සිගාලෝවාද සූත්‍රයෙහි දක්වෙන්නේ ස්වාමියා විසින් තම දූ / දුසි කළයුතු